# කලබල හිත තැන්පත් කරගන්නෙ කොහොමද?

එක්තරා දිනක කුසිනාරාවට වඩින අතරමඟදී ආනන්දයන් වහන්සේ අසා සිටිනවා,

"බුදුරජාණන් වහන්ස, කලබල හිත තැන්පත් කරගන්නෙ කොහොමද?" කියල.

මේ වෙලාවෙදි ගමන් විඩාවට අසල ගසක් යට අසුන් ගත්ත බුදුරජාණන් වහන්සේ කියා හිටිනව,

"ආනන්ද මට පිපාසයි. පැන් බිඳක් රැගෙන එන්න" කියල.

ළඟපාත තිබිච්ච කුක්කුටා කියන නදියට ගිය ආනන්දයන්ට මහා සංවේගයක් ඇති වෙනවා. කරත්ත වගයක් ගිහිල්ල ඒ නදියෙ වතුර හොඳටෝම මඩවෙලා, පානය කරන්න බෑ. කනස්සල්ලෙන් ආපහු පැමිණිච්ච උන් වහන්සේ සැල කර සිටිනවා,

"බුදු පියාණනි වතුර මඩෙන් පිරිල. පානය කරන්න බැහැ. අපි තව ටිකක් ඉස්සරහට ගිහින් වතුර පානය කරමු" කියල.

බුදුරජාණන් වහන්සේ නැවතත් කියා හිටිනව,

"ආනන්ද වතුර දැන් හොඳයි. ගිහින් රැගෙන එන්න" කියල.

හනිකට නදියට ගිය ආනන්දයන් වහන්සේව පුදුමයට පත් වෙනව. කුක්කුටා නදියෙ වතුර හොඳටම පැහැදිලියි. පැන් පාත්තරයක් අරන් ඇවිල්ල, පිළිගන්වල, උන් වහන්සේ කියා සිටිනවා,

"බුදු පියාණන් වහන්ස, මහා ආශ්චර්යයක්. මහා පුදුමයක්. පළවෙනි වතාවේ වතුර හොඳටෝම බොරයි. පානයට නුසුදුසුයි. ඊළඟ වතාවෙදි වතුර හොඳටම පැහැදිලියි. ඔබ වහන්සේ කොහොමද ඒක කලේ?" කියල අහනව.

තථාගතයන් වහන්සේ පිළිතුරු දෙනවා,

"ආනන්ද, වතුරයි මඩයි කියන්නේ එකට පැහෙන දෙයක් නෙවෙයි. මඩ කැළඹුනහම වතුර නොපෙනී යනව. නමුත් කාලයක් දුන්නහම මඩ තැන්පත් වෙනව. එතකොට වතුර පැහැදිලියි.

ආනන්දගෙ ප්‍රශ්ණෙටත් උත්තරේ ඕකම තමයි. හිත කලබල වෙලාවට හිත තැන්පත් වෙන්න දෙන්න. හිත නවත්වන්න බාහිරින් උත්සාහ කලොත් හිත තවත් කලබල වෙනව. හරියට මඩ වගේම තමයි.

හිතේ ස්වභාවය තේරුම් අරගෙන තැන්පත් වෙනකම් ඉවසන්න."

'ජිනං වන්දාමි ගෝතමං'

